16 S I, II

අධ්‍යයන පොදු සහතික පත්‍ර (සාමාන්‍ය පෙළ) විභාගය, 2022(2023)
கல்விப் பொதுத் தராதரப் பத்திர (சாதாரண தர)ப் பரீட்சை, 2022(2023)
General Certificate of Education (Ord. Level) Examination, 2022(2023)

ඉස්ලාම් I, II
இஸ்லாம் I, II
Islam I, II

පැය තුනයි
மூன்று மணித்தியாலம்
Three hours

අමතර කියවීම් කාලය - මිනිත්තු 10 යි
மேலதிக வாசிப்பு நேரம் - 10 நிமிடங்கள்
Additional Reading Time - 10 minutes

අමතර කියවීම් කාලය ප්‍රශ්න පත්‍රය කියවා ප්‍රශ්න තෝරා ගැනීමටත් පිළිතුරු ලිවීමේදී ප්‍රමුඛත්වය දෙන ප්‍රශ්න සංවිධානය කර ගැනීමටත් යොදාගන්න.

## ඉස්ලාම් I

උපදෙස්:

* **සියලු ම** ප්‍රශ්නවලට පිළිතුරු සපයන්න.
* අංක **1** සිට **40** තෙක් ප්‍රශ්නවල, දී ඇති (1), (2), (3), (4) යන පිළිතුරුවලින් **නිවැරදි හෝ වඩාත් ගැළපෙන** හෝ පිළිතුර තෝරා ගන්න.
* **ඔබට සැපයෙන පිළිතුරු පත්‍රයේ එක් එක් ප්‍රශ්නය සඳහා දී ඇති කව අතුරෙන් ඔබ තෝරාගත් පිළිතුරෙහි අංකයට සැසඳෙන කවය තුළ (X) ලකුණ යොදන්න.**
* එම පිළිතුරු පත්‍රයේ පිටුපස දී ඇති අනෙක් උපදෙස් ද සැලකිල්ලෙන් කියවා, ඒවා ද පිළිපදින්න.

**1.** 'මුඃජිසාත්' යන්නෙහි අර්ථය වන්නේ,
(1) චිත්ත පාරිශුද්ධියයි. (2) ආශ්චර්යයි.
(3) විද්‍යාත්මක නැඹුරුවයි. (4) ශබ්දකාර හඬයි.

**2.** නබි (සල්) තුමාට පහළ කළ පළමු වැකි පහ අන්තර්ගත වූ සූරාහි නම වන්නේ,
(1) සූරා අලක් ය. (2) සූරා ෆලක් ය.
(3) සූරා මුසම්මිල් ය. (4) සූරා ෆාතිහා ය.

**3.** 'ජාමිඋල් කුර්ආන්' ලෙස හඳුන්වන කලීෆාවරයා
(1) අබූ බක්ර් (රළි) ය. (2) උමර් (රළි) ය.
(3) උස්මාන් (රළි) ය. (4) අලි (රළි) ය.

**4.** ඉස්ලාමීය මූලාශ්‍රයක් වන 'ඉජ්මාඋ' යන්නෙහි අර්ථය වන්නේ,
(1) අවසාන තීරණය ය. (2) සහඳා බැලීම ය. (3) තීරණය ලබා දීම ය. (4) ඒකමතික තීරණය ය.

**5.** අර්කානුල් කියාස්වලට අයත් **නොවන** කරුණ වන්නේ,
(1) අල්-අස්ල් ය. (2) අල්-වස්ල් ය. (3) අල්-ෆරුඋ ය. (4) අල්-ඉල්ලත් ය.

**6.** යකඩ හැසිරවීම පිළිබඳ තාක්ෂණික දැනුම ලබා දී ඇති බවට අල්කුර්ආන් සඳහන් කරන නබිවරයා වන්නේ,
(1) නූහ් (අලෛ) ය. (2) ඉබ්රාහීම් (අලෛ) ය.
(3) සුලෛයිමාන් (අලෛ) ය. (4) දාවූද් (අලෛ) ය.

**7.** පහත සඳහන් විද්වතුන් අතුරෙන් අරාබි ව්‍යාකරණඥයෙකු ලෙස ප්‍රසිද්ධියට පත් වන්නේ,
(1) අල් මුතන්නි ය. (2) ඉමාම් තබරී ය.
(3) ඉමාම් ඉබ්නු කල්දූන් ය. (4) ඉමාම් සීබවයිහි ය.

**8.** බොහෝ මිනිසුන් නොසැලකිලිමත් වන දායාද දෙකක් ලෙස නබි (සල්) තුමා විසින් හඳුන්වා දුන්නේ,
(1) නිරෝගීකම හා විවේකය ය. (2) විවේකය හා ධනය ය.
(3) ධනය හා නිරෝගීකම ය. (4) දැනුම හා ධනය ය.

**9.** 'නබිවරුන් පාපී හා වැරදි ක්‍රියා කිරීමෙන් ආරක්ෂාව ලැබූ අය බව' සඳහන් කරන අරාබි පදය වන්නේ,
(1) බලාකත් ය. (2) ඉස්මත් ය. (3) ෆතානත් ය. (4) මෑරිෆත් ය.




[දෙවැනි පිටුව බලන්න.

**10.** 'දෙවියන් නොමැත' යනුවෙන් දේවවාදය ප්‍රතික්ෂේප කරන, අදේවවාද චින්තනය සඳහා යෙදෙන පදය
(1) ඉල්හාද් ය. (2) නිෆාක් ය. (3) කුෆ්ර් ය. (4) ෂිර්ක් ය.

**11.** නබි (සල්) තුමාගේ ලියුම ඊජිප්තු රජතුමා වෙත රැගෙන ගිය සහාබිවරයා
(1) හාතිබ් ඉබ්නු අබූබල්තආ (රලි)ය. (2) අබ්දුල්ලාහ් ඉබ්නු හුසෙයිමා (රලි) ය.
(3) තිහියයතුල් කල්බි (රලි) ය. (4) අම්ර් ඉබ්නු උමයියා (රලි) ය.

**12.** උමයියා කලීෆා උමර් බින් අබ්දුල් අසීස් (රහ්) ගේ අනුබලයට අනුව හදීස් එක් රැස් කර සම්පාදනය කළ තැනැත්තා
(1) ඉමාම් බුහාරි (රහ්) ය. (2) ඉමාම් තිර්මිදි (රහ්) ය.
(3) ඉමාම් ෂිහාබ්දීන් සුහ්රි (රහ්) ය. (4) ඉමාම් මුස්ලිම් (රහ්) ය.

**13.** නබි (සල්) තුමාගේ කාලයේ සිටි කවියන් අතරට ඇතුළත් **නොවන** කවියා වන්නේ,
(1) හස්සාන් බින් සාබිත් ය. (2) හුදෙයිෆතුල් යමානි ය.
(3) කඃබ් ඉබ්නු මාලික් ය. (4) අබ්දුල්ලාහ් ඉබ්නු රවාහා ය.

**14.** නබි (සල්) තුමාගේ අභාවයෙන් පසු අබූ බක්ර් (රලි) තුමා කලීෆා ලෙස තේරී පත් වූ ස්ථානය
(1) මස්ජිදුන් නබවි ය. (2) බිඃරුරූමා ය.
(3) සකීෆතු බනී සාඉදා ය. (4) සකීෆදු බනී නල්ර් ය.

**15.** පහත ඒවායින් අලි (රලි) තුමාගේ විශේෂ නාමය වන්නේ,
(1) සෙයිෆුල්ලාහ් ය. (2) අසදුල්ලාහ් ය.
(3) කලීලුල්ලාහ් ය. (4) කලීමුල්ලාහ් ය.

**16.** අලි (රලි) තුමාගේ පාලන කාලයේ දී අල්කුර්ආන් අක්ෂර සඳහා පිල්ලම් යෙදූ තැනැත්තා
(1) අබුල් අස්වද් අද්දුඅලි ය. (2) යෙසිද් ඉබ්නු සාබිත් ය.
(3) කාලිද් බින් වලීද් ය. (4) මුස්අබ් ඉබ්නු උමෛර් ය.

**17.** පහත ඒවායින් දික්කසාදය සමග සම්බන්ධ **නොවන** පදය වන්නේ,
(1) ලිආන් ය. (2) කුල්උ ය. (3) ඊජාබ් ය. (4) ෆස්කු ය.

**18.** ඉමාමුල් මදීනා ලෙස හඳුන්වන විද්වතා
(1) ඉමාම් අබූ හනීෆා (රහ්) ය. (2) ඉමාම් මාලික් (රහ්) ය.
(3) ඉමාම් ෂාෆිඊ (රහ්) ය. (4) ඉමාම් අහ්මද් ඉබ්නු හන්බල් (රහ්) ය.

**19.** පහත ඒවායින් මාඋත්තහූර්, එනම් ඉතා පිරිසිදු ජලය ලෙස හඳුන්වන්නේ මොනවා ද?
(1) වර්ෂා ජලය හා මුහුදු ජලය (2) තැඹිලි වතුර හා ගංගා ජලය
(3) මුහුදු ජලය හා තේ (4) ගංගා ජලය හා රෝස වතුර

**20.** පහත වගුවෙහි 'අ' තීරුවේ විද්වතුන්ගේ නම් ද 'ආ' තීරුවේ ඔවුන් විසින් ලියන ලද ග්‍රන්ථයන් ද සඳහන් වේ.

| | 'අ' | 'ආ' |
|---|---|---|
| (1) | ඉමාම් අබූ හනීෆා (රහ්) | A - අල්- උම්මු |
| (2) | ඉමාම් මාලික් (රහ්) | B - ෆික්හුල් අක්බර් |
| (3) | ඉමාම් ෂාෆිඊ (රහ්) | C - මුස්නද් |
| (4) | ඉමාම් අහ්මද් ඉබ්නු හන්බල් (රහ්) | D - මුඅත්තා |

ඉහත 'අ' තීරුවේ අනුපිළිවෙළට අනුව 'ආ' තීරුව සකස් කිරීමෙන් ලැබෙන අනුපිළිවෙළ සඳහන් වරණය කුමක් ද?
(1) A B C D (2) B C D A (3) B D A C (4) D C B A

**21.** විවාහවීමට ස්ථිරව තහනම් වූ අය අතුරෙන් කෙනෙකු වන්නේ,
(1) පියාගේ සහෝදරිය ය. (2) 'ඉද්දා'හි සිටින කාන්තාව ය.
(3) බිරිඳගේ සහෝදරිය ය. (4) නැන්දාගේ දුව ය.

**22.** 'එක රක්අත්'හි රුකූඋ දෙකක් සිදු කරන සලාතය
(1) වර්ෂාව උදෙසා ඉටුකරන සලාතය ය. (2) ග්‍රහණ සලාතය ය.
(3) අවුරුදු සලාතය ය. (4) රාත්‍රී සලාතය ය.

[තුන්වැනි පිටුව බලන්න.

**23.** පහත වගුවෙහි 'X' තීරුවේ සමහර ඉස්ලාමීය සහාය මූලාශ්‍රයන් ද 'Y' තීරුවේ ඒවායේ අර්ථ ද සඳහන් වේ.

| | 'X' | 'Y' |
|---|---|---|
| (1) | කව්ලුස් සහාබි | A - සමාජ සුබසාධනය පවත්වාගෙන යාම |
| (2) | අල් උර්ෆ් | B - නබි තුමාගේ මිත්‍රවරුන්ගේ ප්‍රකාශය |
| (3) | අල් කියාස් | C - චාරිත්‍ර |
| (4) | මස්ලහා මුර්සලා | D - සසඳා බැලීම |

ඉහත 'X' තීරුවේ අනුපිළිවෙළට අනුව 'Y' තීරුව සකස් කිරීමෙන් ලැබෙන අනුපිළිවෙළ සඳහන් වරණය කුමක් ද?
(1) ADBC (2) BCDA (3) CADB (4) DCAB

**24.** පරලොවට සම්බන්ධ **නොවන** පදය
(1) සිරාත් ය. (2) මීසාන් ය. (3) ෂෆාඅත් ය. (4) ලව්හුල් මහ්ෆුල් ය.

**25.** සලාතයේ ප්‍රථම තක්බීරය සමග පහත ඒවායින් සුන්නත් වූ පාරායනය වන්නේ,
(1) තක්බීරතුල් ඉහ්රාම් ය. (2) කුනූත් ය. (3) දුආඋල් ඉස්තිෆ්තාහ් ය. (4) සූරතුල් ෆාතිහා ය.

**26.** යමෙකු තම බිරිඳට දේපළවලින් කොටසක් හිමි නොවිය යුතු යැයි සිතා අයහපත් අරමුණින් තම මරණය අභියස ඇයට තලාක් පැවසීම
(1) වාජිබ් වන තලාක් වේ. (2) සුන්නත් වන තලාක් වේ.
(3) හරාම් වන තලාක් වේ. (4) මුබාහ් වන තලාක් වේ.

**27.** කෙනෙක් නොකඩවා සිඟමන් යැදීමේ නිරත වෙයි නම්, කියාමා දවසේ එන ආකාරය නබි (සල්) තුමා සඳහන් කළේ කෙසේ ද?
(1) එක පැත්තකට ඇලවී (2) කොන්ද නැමී ඇතිව
(3) ඇස් පෙනීම් නොමැතිව (4) මුහුණේ මස්පිඬු නොමැතිව

**28.** නබි සුලෙයිමාන් (අලෙ) සම්බන්ධ වචන මාලාව කුමක් ද?
(1) හුද්හුද්, බල්කීස්, අබිසීනියා (2) හුද්හුද්, බල්කීස්, සබඃ
(3) යස්රිබ්, සබඃ, බල්කීස් (4) හුද්හුද්, සබඃ, සුලෙයිහා

**29.** නබි (සල්) තුමාට ප්‍රථමයෙන් වහි පහළ වූ පසු, කදීජා (රලි) තුමිය, නබි තුමාව කැඳවා ගියේ කා වෙත ද?
(1) අබූ බක්ර් (රලි) (2) උම්මු හානි
(3) වරකත් ඉබ්නු නව්ෆල් (4) අබූ සලමා

**30.** නබි (සල්) තුමා නබිවරයෙකු ලෙස තෝරාගත් විට නබිතුමාට සහාය දුන් තරුණ කණ්ඩායමේ අයෙකු වන්නේ,
(1) අබූ බක්ර් (රලි) ය. (2) උමර් (රලි) ය.
(3) උස්මාන් (රලි) ය. (4) අර්කම් (රලි) ය.

**31.** තලාක් පවසන ලද කාන්තාවන්ගේ ඉද්දා කාලය
(1) මාස් ශුද්ධි තුනක් ය. (2) සිව් මසකුත් දින දහයකුත් ය.
(3) දවස් හතළිහක් ය. (4) මාසයක් ය.

**32.** වෙළෙඳාමේ යෙදෙන විට වෙළෙඳ භාණ්ඩය සඳහා අත්‍යවශ්‍ය **නොවන** කරුණ වන්නේ, එය
(1) විකුණුම්කරුට අයිති විය යුතු ය.
(2) විකුණුම් ස්ථානයෙහි තිබීම ය.
(3) ගැනුම්කරුට භාරදිය හැකි තත්ත්වයක තිබිය යුතු ය.
(4) ඉස්ලාමීය පදනම් මත පිරිසිදු හා ප්‍රයෝජනවත් භාණ්ඩයක් විය යුතු ය.

**33.** නබි (සල්) තුමාගේ ජීවිත ඉතිහාසය සම්පාදනය කර මුහම්මද් බින් ඉස්හාක් විසින් හිජ්රි 151දී ලේඛන ගත කළ පළමු සීරා ග්‍රන්ථය
(1) සීරාජ් පුරාණම් ය. (2) අර්රහීක් අල් මහ්තූම් ය.
(3) සීරත් රසූලිල්ලාහ් ය. (4) සීරත් ඉබ්නු හිශාම් ය.

005862

0102000220110862

**34.** සකාත් අනිවාර්ය වන භාණ්ඩ අඩංගු වරණය කුමක් ද?
(1) රන්, රිදී, වාහන (2) වී, වාහන, මුදල්
(3) එළුවන්, රටඉඳි, රන් (4) මුදල්, රන්, වාහන

**35.** 'මුස්ලිම් නේසන්' නමින් පුවත්පතක් ආරම්භ කර ආගමික පරිසරය තුළ අධ්‍යාපනය හැදෑරීමේ වැදගත්කම අවධාරණය කර ලියූ විද්වතා
(1) සිද්දි ලෙබ්බෙ ය. (2) ටී. බී. ජායා ය.
(3) අබ්දුල් අසීස් ය. (4) ඔරාබි පාෂා ය.

**36.** පහත වදන් සලකන්න.

| | | |
|---|---|---|
| A - අර්රිබා | D - අල්මුරාබහා | G - අල් ඉජාරා |
| B - අල්මුළාරබා | E - මහර් | H - අල් කිරාන් |
| C - අල් ෆිද්යා | F - අල් මුෂාරකා | I - අත්තස්කියා |

ඉහත වගුවේ ඉස්ලාම්හි අනුමත ව්‍යාපාර ක්‍රම අඩංගු වරණය කුමක් ද?
(1) A B C D (2) B C E F (3) B D F G (4) B D G I

**37.** මුජ්තහිද්වරයෙකුට තිබිය යුතු අත්‍යවශ්‍ය සුදුසුකම්වලින් එකක් වන්නේ,
(1) අල්කුර්ආන් හා සුන්නා පිළිබඳ ගැඹුරු දැනුමක් තිබීමයි.
(2) පසුකාලයට අයත්ව සිටීමයි.
(3) නබිතුමාගේ මිත්‍රවරයෙකු ලෙස සිටීමයි.
(4) ඉස්ලාමීය දේශයක ස්වදේශිකයෙකු ලෙස සිටීමයි.

**38.** ඉස්ලාම් පවසන යහගුණාංග අතුරෙන් එකක් අල්කුර්ආනයේ හැත්තෑවකට අධික ස්ථානයන්හි සඳහන් කර ඇත. එම ගුණාංගය කුමක් ද?
(1) කීකරුබව (2) වීරත්වය (3) සමාව දීම (4) ඉවසීම

**39.** සුන්නත් වූ උපවාසය රැකීමට සුදුසු දින පමණක් අඩංගු වරණය කුමක් ද?
(1) සඳුදා, බ්‍රහස්පතින්දා (2) බ්‍රහස්පතින්දා, සිකුරාදා
(3) ඉරිදා, සඳුදා (4) බදාදා, බ්‍රහස්පතින්දා

**40.** කායික ශක්තිය ඇති හා ආර්ථික වශයෙන් බලවත් පිරිමියෙකු අකුසල්හි නිරත වීම ගැන බියවන්නේ නම්, ඔහු විවාහ වීම
(1) මක්රූහ් වේ. (2) සුන්නත් වේ. (3) වාජිබ් වේ. (4) මුබාහ් වේ.

* *

[පස්වැනි පිටුව බලන්න.

0001153

**16 S I, II**

**අධ්‍යයන පොදු සහතික පත්‍ර (සාමාන්‍ය පෙළ) විභාගය, 2022(2023)**
**கல்விப் பொதுத் தராதரப் பத்திர (சாதாரண தர)ப் பரீட்சை, 2022(2023)**
**General Certificate of Education (Ord. Level) Examination, 2022(2023)**

| | |
|---|---|
| **ඉස්ලාම්** | **I, II** |
| இஸ்லாம் | **I, II** |
| Islam | **I, II** |

## ඉස්ලාම් II

✻ **පළමුවන** ප්‍රශ්නය හා තෝරාගත් තවත් ප්‍රශ්න **හතරක්** ඇතුළුව ප්‍රශ්න **පහකට** පමණක් පිළිතුරු සපයන්න.
✻ පළමුවන ප්‍රශ්නයට ලකුණු **20** ක් ද, තෝරා ගන්නා එක් ප්‍රශ්නයකට ලකුණු **10** බැගින් ද හිමි වේ.

**1.** කෙටි පිළිතුරු සපයන්න.

(i) සබූර් ආගම පහළ වූ නබිවරයා කවුරුන් ද?

(ii) 'තස්කියා' යන්නෙහි අර්ථය කුමක් ද?

(iii) අස්සිහාහුස් සිත්තා සම්පාදකයින් **හතර** දෙනෙකු නම් කරන්න.

(iv) පෙර සිටි කලීෆා විසින් කිලාෆතය සඳහා ප්‍රකාශය කරන ලද සහාබිවරයා කවුරුන් ද?

(v) සදාචාරය අවධාරණය කරන හදීස් **එකක්** සඳහන් කරන්න.

(vi) 'ඉස්ලාම්'හි විවාහයේ අරමුණු **දෙකක්** සඳහන් කරන්න.

(vii) ව්‍යාපාරයේ දී වැළකී සිටිය යුතු කරුණු **දෙකක්** සඳහන් කරන්න.

(viii) ඉස්ලාම් පවසන යහගුණාංග **දෙකක්** සඳහන් කරන්න.

(ix) තයම්මුම් සිදුකරන අවයව මොනවා ද?

(x) මරණයට පත් වූ කෙනෙකුගේ දේපළවලින් මුලින් ඉටු කිරීමට අවශ්‍ය වන කරුණ කුමක් ද?

**2.** (i) පවුල් නෑකම හේතුවෙන් විවාහ කර ගැනීමට තහනම් වූ (මහ්රම්) **දෙදෙනෙකු** නම් කරන්න.

(ii) "සියලු මිනිසුන් නීතිය ඉදිරියේ සමාන වේ." මේ බව අවධාරණය කරන නබි (සල්) තුමාගේ දේශනාවලින් **එකක්** සඳහන් කරන්න.

(iii) ශ්‍රී ලාංකික ජනයා වශයෙන් අප විසින් අනුගමනය කළ යුතු මගපෙන්වීම් **පහක්** සඳහන් කර පැහැදිලි කරන්න.

**3.** (i) තයම්මුම් කිරීමට හැකි අවස්ථා **දෙකක්** සඳහන් කරන්න.

(ii) නජීස්හි වර්ග **තුන** සඳහන් කරන්න.

(iii) අල් මාඋත් තහූර් ව නිදසුන් සමඟ විග්‍රහ කර එහි භාවිත **තුනක්** සඳහන් කරන්න.

**4.** (i) 'වසතියියා'හි නිර්වචනය, එහි තේරුම සමඟ ලියන්න.

(ii) ඉපයීම 'ඉබාදත්' ලෙස සැලකීමට නම් අනුගමනය කළ යුතු ඉස්ලාමීය මගපෙන්වීම් **තුනක්** සඳහන් කරන්න.

(iii) මානසික යෝග්‍යතාව සම්බන්ධව අල්කුර්ආන් සහ අල් හදීස්වල දැක්වෙන සාක්ෂි සමග පැහැදිලි කරන්න.

**5.** (i) සකාත් සාමූහික වශයෙන් ඉටු කිරීමෙන් ලැබෙන ප්‍රයෝජන **හතරක්** ලියන්න.

(ii) සකාත් ලැබීමට හිමිකම් ඇති පිරිස අතුරෙන් කාණ්ඩ **තුනක්** සඳහන් කර එම භාණ්ඩ කෙටියෙන් පැහැදිලි කරන්න.

(iii) 'තව්බා' යනු කුමක් දැයි සඳහන් කර, එය පිළිගැනීම සඳහා වූ කොන්දේසි ලියා දක්වන්න.

[හයවැනි පිටුව බලන්න.

6. (i) ස්වාමියා තමා ගැන තෘප්තිමත් වී සිටින විට මරණයට පත්වන කාන්තාවකට පරලොව දී ලැබෙන තෑග්ග ලෙස නබි (සල්) තුමා සඳහන් කළේ කුමක් ද?

(ii) ආදර්ශවත් මුස්ලිම් පවුලක දෙමාපියන්ගේ වගකීම් **තුනක්** සඳහන් කරන්න.

(iii) සන්නිවේදන මාධ්‍යයන් අනුගමනය කළ යුතු ගුණාංග **පහක්** සඳහන් කර කෙටියෙන් පැහැදිලි කරන්න.

7. පහත ඒවායින් **දෙකකට** කෙටි සටහන් ලියන්න.

(i) අල්කුර්ආන් ගොනු කිරීම

(ii) 'සුන්නා'හි වැදගත්කම

(iii) 'ඉද්දා'හි වර්ග

(iv) ටී.බී. ජායාගේ අධ්‍යාපනික දායකත්වය

* * *